OL/2021(2022)/16-S-I, II





**16 S I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)**
**General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)**

| | | |
|---|---|---|
| **ඉස්ලාම්** | **I, II** | **පැය තුනයි** |
| இஸ்லாம் | **I, II** | மூன்று மணித்தியாலம் |
| Islam | **I, II** | *Three hours* |

**අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි**
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## ඉස්ලාම් I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** 'හිදායත්' යන්නෙහි අර්ථය වන්නේ,
(1) ඉස්ලාමීය මාර්ගයයි. (2) යහ මගයි.
(3) පරලොව මාර්ගයයි. (4) නබි (සල්) තුමාණන්ගේ මාර්ගයයි.

**2.** 'අල්-මාඋත් තහූර්' නම් කොටසට අයත් වන්නේ,
(1) තේ වතුර ය. (2) පලතුරු යුෂ ය.
(3) තැඹිලි වතුර ය. (4) මුහුදු ජලය ය.

**3.** මිනිසුන්ට කිරීමට අවසර දී ඇතත් අල්ලාහ් විසින් බෙහෙවින් පිළිකුල් කරන කරුණක් වන්නේ,
(1) තලාක් ය. (2) බහු භාර්යා විවාහය ය.
(3) ගමන් බිමන් ය. (4) සලාතයන් එකතු කර ඉටු කිරීම ය.

**4.** පරලොවෙහි මුලින් ම විමසනු ලබන 'ඉබාදතය' වන්නේ,
(1) සලාත් ය. (2) උපවාසය ය. (3) සකාත් ය. (4) හජ් ය.

**5.** නබි මුහම්මද් (සල්) තුමාණන්ට අල්-කුර්ආනය ලබා දී සම්පූර්ණ කිරීමට ගත වූ කාලය අවුරුදු,
(1) 10 කි. (2) 11 කි. (3) 21 කි. (4) 23 කි.

**6.** ඉජ්මාඋ, කියාස් හැර සහාය මූලාශ්‍ර හතට අයත් නොවන්නේ කුමක් ද?
(1) ඉල්ලත් (2) ඉස්තිහ්සාත්
(3) උර්ෆ් (4) කව්ලුස් සහාබා

**7.** ඉමාම් සමහ්ෂරී තුමා, සාහිත්‍ය දෘෂ්ටි කෝණයෙන් ලියන ලද අල්-කුර්ආන් තෆ්සීර් ග්‍රන්ථයේ නම වන්නේ,
(1) ජලාලෙෙන් ය. (2) කෂ්ෂාෆ් ය. (3) ෆී ළිලාලිල් කුර්ආන් ය. (4) බෛලාවි ය.

**8.** පවිත්‍රතාව හා වර්ධනය යන අර්ථ දෙන ඉස්ලාමීය පංච මහා වගකීම්වලින් එකක් වන්නේ,
(1) සව්ම් ය. (2) සකාත් ය. (3) සලාත් ය. (4) හජ් ය.

**9.** ඉමාම් බුහාරි (රහ්) තුමා ප්‍රසිද්ධිය ලබා සිටි ක්ෂේත්‍රය වන්නේ,
(1) ෆික්හ් ක්ෂේත්‍රය යි. (2) ඉතිහාස ක්ෂේත්‍රය යි. (3) හදීස් ක්ෂේත්‍රය යි. (4) තෆ්සීර් ක්ෂේත්‍රය යි.

[දෙවැනි පිටුව බලන්න.

**10.** මව්කිරි පමණක් ආහාරයට ගන්නා අවුරුදු දෙකකට වඩා අඩු වයසැති පිරිමි දරුවකුගේ මූත්‍ර,
(1) දරුණු නජීස් වේ. (2) සුළු නජීස් වේ.
(3) පිරිසිදු කළ නොහැකි නජීස් වේ. (4) සාමාන්‍ය නජීස් වේ.

**11.** අල්-කුර්ආනය හා සුන්නා මගින් නිශ්චිත වශයෙන් තීන්දු දක්වා නොමැති ගැටලුවලට තීන්දු ලබා ගත හැකි ඉතා නිවැරදි ඉස්ලාමීය මාර්ගය
(1) ෆික්හ් ය. (2) තෆ්සීර් ය.
(3) කියාස් ය. (4) ඉජ්තිහාද් ය.

**12.** නබි (සල්) තුමා සමග මල්ලවපොර තරගවලට සහභාගී වූ මදීනාවෙහි ජීවත් වූ මල්ලවපොර ශූරයා වන්නේ,
(1) අබූ දුජානා ය. (2) උසෙද් බින් හුලෙර් ය.
(3) රුකානා ය. (4) සඃද් බින් මුආද් ය.

**13.** විවාහයකට 'ෂාහිද්' ලෙස ඉදිරිපත්වන පුද්ගලයකුට අදාළ කොන්දේසියක් වන්නේ,
(1) නෑදෑයකු වීම ය. (2) ඉස්ලාමීය දැනුමක් තිබීම ය.
(3) අරාබි බස දැන සිටීම ය. (4) කථන හා ශ්‍රවන සංවේදන හැකියා තිබීම ය.

**14.** "අස්මා උල් හුස්නා" හි අඩංගු 'අල්-මුඃනි' යන්නෙහි අර්ථය වන්නේ,
(1) ධනය වලක්වන්නා ය. (2) ධනය විනාශ කරන්නා ය.
(3) ධනවන්ත කරන්නා ය. (4) ප්‍රමාණවත් ධනවන්තයා ය.

**15.** එකම ඉහ්රාම් සමග හජ් හා උම්රා සඳහා එකවර නියියත් තැබීම,
(1) තමත්තුඋ වේ. (2) කිරාන් වේ.
(3) ඉෆ්රාද් වේ. (4) රමල් වේ.

**16.** ගමනක යෙදී සිටින්නෙකු තමාට අනිවාර්ය වූ පස්වේල් සාලාතයක්,
(1) ඉටු කිරීම අවශ්‍ය නොවේ. (2) 'කලා' කළ හැකිය.
(3) වේල් දෙකක් තෙක් පමාකළ හැකිය. (4) කෙටි කර හා එකතුකර ඉටුකළ හැකිය.

**17.** අල්-කුර්ආන්හි කිතාබ්, හික්මා නම් සන්තතික වචනවල 'හික්මා' ලෙස දක්වා ඇති කරුණ, ඉමාම් ෂාෆිඊ (රහ්) තුමා පවසා ඇත්තේ,
(1) කුර්-ආන් වාක්‍ය ලෙසට ය. (2) නබි වරුන්ගේ ඉතිහාසය ලෙසට ය.
(3) සුන්නා ලෙසට ය. (4) සහාබාවරුන්ගේ අදහස් ලෙසට ය.

**18.** අල්-කුර්ආන් නීතිරීති ඉතා පුළුල්ව පැහැදිලි කරන ලද කාල පරිච්ඡේදය වන්නේ,
(1) මදීනා කාල පරිච්ඡේදය යි. (2) මක්කා කාල පරිච්ඡේදය යි.
(3) මක්කාව ජයගත් කාල පරිච්ඡේදය යි. (4) නබි (සල්) තුමාගේ අවසාන කාල පරිච්ඡේදය යි.

**19.** නබි (සල්) තුමාණන්ට බලවත් විරෝධය පෑම හේතුවෙන් අල්-කුර්ආන් හි නම සඳහන් කර ශාපයට ලක් වී ඇත්තේ,
(1) අබූජහ්ල් ය. (2) අබූලහබ් ය.
(3) ඉක්රිමා ය. (4) අබූ සුෆ්යාන් ය.

**20.** ශ්‍රී ලාංකික මුස්ලිම්වරුන්ගේ තොරතුරු ද ඇතුළත් කර, අරාබි භාෂාවෙන් ලියවී ඇති ඉතිහාස ග්‍රන්ථය වන්නේ,
(1) අජාඉබුල් හින්ද් ය. (2) කලීලා වදිම්නා ය. (3) අල්-අයියාම් ය. (4) තස්කිරතුල් හුබ්බාල් ය.

**21.** පහත ඒවායින් ෆර්ලු කිෆායා වන කාර්යයක් වන්නේ,
(1) පස්වේල් සලාතය ඉටු කිරීම ය.
(2) සකාත් ඉටු කිරීම ය.
(3) හජ් හි දී මක්කාහි එක්රැස්වීම ය.
(4) සමාජ ශුභසාධන කටයුතුවල නිරතවීම ය.

**22.** 'ඉස්ලාමීය නීති හා ජාත්‍යන්තර දැක්ම' නම් ග්‍රන්ථයෙහි කතෘ,
(1) ආචාර්ය සී.වී. වීරමන්ත්‍රී ය. (2) සිරිමා කිරිපාමුන ය.
(3) කුමාරි ජයවර්ධන ය. (4) මහාචාර්ය පද්මනාදන් ය.

**23.** 'ඉමාරත්' නම් අරාබි වචනයෙන් දැක්වෙන්නේ,
(1) රාජ්‍ය පාලනයයි. (2) නායකත්වයයි.
(3) කලීෆාවරුන් සිව්දෙනාගේ පාලනයයි. (4) පොළොව සරුකරන ක්‍රියාවයි.

**24.** "මිනිසා පුරවන්නේ කුණු භාජනයක් නොව තම කුස ය. ආහාර ගැනීම අවශ්‍ය වූ විටෙක ආමාශයේ තුනෙන් කොටසක් ආහාරය සඳහා ද තුනෙන් කොටසක් ජලය සඳහා ද ඉතිරි තුනෙන් කොටස ................................. ද වෙන් කර ගත යුතු ය" යනුවෙන් පවසන නබි (සල්) තුමාණන්ගේ හදීසයෙහි සඳහන් වන තුන්වන තුනෙන් කොටස වන්නේ,

(1) හිස්ව තැබීම ය. (2) හුස්ම සඳහා ය. (3) වාතය සඳහා ය. (4) ශරීරය සඳහා ය.

**25.** තම ගැටලුව පිළිබඳ පැමිණිලි කිරීමට පැමිණි කාන්තාවගෙන් විභාග කිරීමට අවස්ථාවක් නොලැබුණ හෙයින් නැවත වතාවක් පැමිණෙන ලෙස ඇයට පවසා, තමා නොසිටිය හොත් මෙන්න මේ සහාබාවරයා වෙත ගැටලුව පිළිබඳ පැමිණිල්ල ඉදිරිපත් කරන ලෙස පවසා නබි(සල්) තුමාණන් සහාබාවරයෙකු පෙන්වූහ. එම සහාබාවරයා වන්නේ,

(1) අබූබක්ර් (රලි) තුමා ය. (2) අලි (රලි) තුමා ය. (3) උමර් (රලි) තුමා ය. (4) උස්මාන් (රලි) තුමා ය.

**26.** පරලොවෙහි 'සකර්' නම් අපායට පිවිසෙන්නා,

(1) උපවාසය නොරැකි තැනැත්තා ය. (2) සකාත් නුදුන් තැනැත්තා ය.
(3) සලාතය ඉටු නොකළ තැනැත්තා ය. (4) ඊමාන් නොකළ තැනැත්තා ය.

**27.** මස්ජිදුන් නබවි ඉදිකරන ලද්දේ,

(1) හිජ්රතයට පෙර ය. (2) හිජ්රතයට පසුව ය.
(3) නබි (සල්) තුමා මක්කමේ සිටි අවස්ථාවේ දී ය. (4) නබි (සල්) තුමා මක්කාවට ආපසු ගිය විට ය.

**28.** පහත ඒවායින්, ඉමාම් ෂාෆි (රහ්) විසින් රචිත ග්‍රන්ථය වන්නේ,

(1) කිතාබුල් උම්මු ය. (2) ෆික්හුල් අක්බර් ය. (3) මුඅත්තා ය. (4) මුස්නද් අහ්මද් ය.

**29.** 'වහි ගෛරු මත්ලුව්' යනුවෙන් හැඳින්වෙන්නේ,

(1) අල් කුර්ආන් වාක්‍ය ය. (2) නබි මුහම්මද් (සල්) තුමාණන්ගේ සුන්නා ය.
(3) කුර්ආන්, සුන්නා දෙකම ය. (4) නබි වරුන් ට පහළ කරන ලද වහි ය.

**30.** නබි (සල්) තුමාණන් මදීනාවට හිජ්රත් ගිය අවස්ථාවේදී මුලින්ම නවාතැන් ගත් නිවසේ හිමිකරු වූ සහාබිවරයා වන්නේ,

(1) මුස්අබ් බින් උමෛර් (රලි) ය. (2) අබූ අයියූබ් (රලි) ය.
(3) මුආද් ඉබ්නු ජබල් (රලි) ය. (4) අබූ දර් අල්-ගිෆාරි (රලි) ය.

**31.** පුද්ගලයකු සතුව එළුවන් 201 ක් සිටී නම් ඔහු ලබාදිය යුතු සකාතයේ ප්‍රමාණය වන්නේ,

(1) එළුදෙනුන් 03 කි. (2) පිරිමි එළුවන් 03 කි.
(3) එළුදෙනුන් 02 කි. (4) පිරිමි එළුවන් 04 කි.

**32.** 'ෆික්හුල් අව්ලවියියාත්' නම් පදනමින් පහත කාර්ය අතුරෙන් ඔබ ප්‍රමුඛත්වය ලබාදෙන්නේ කුමකට ද?

(1) උගත් පාඩම් නැවත පුනරීක්ෂණය කිරීමට. (2) ගෙදරදොර වැඩවලදී මවට උදව් කිරීමට.
(3) අල්-කුර්ආන් පරායණය කිරීමට. (4) අනතුරට පත් කෙනෙකු රෝහලට රැගෙන යාමට.

**33.** පහත වගුවෙහි 'අ' තීරුවේ පාරිභාෂික වදන් කිහිපයක් ද, 'ආ' තීරුවේ ඒවාට සුදුසු පැහැදිලි කිරීම් ද දක්වා ඇත.

| | 'අ' | 'ආ' |
|---|---|---|
| (1) | තව්බා | A - ආශාවලට සහ ෂෛතාන්ට ගැති වූ සිත |
| (2) | සුහ්ද් | B - උසස් යහගුණ |
| (3) | නෆ්සුල් අම්මාරා බිස් සූඃ | C - පව්වලින් මිදීමට හොඳ ක්‍රියාමාර්ගයකි. |
| (4) | හුලුක් හසන් | D - බැඳීම් වලින් තොර ජීවන ක්‍රමය |

ඉහත 'අ' තීරුවේ අනුපිළිවෙළට අනුව 'ආ' තීරුව සකස් කිරීමෙන් ලැබෙන අනුපිළිවෙළ සඳහන් වරණය කුමක් ද?

(1) A B C D (2) B C D A (3) C D A B (4) D C B A

**34.** "නිශ්චිත වශයෙන් ම ශරීරයෙහි මස් පිඩක් ඇත. එය අයහපත් වුවහොත් මුළු ශරීරයට අයහපත් වේ. එය යහපත් වුවහොත් මුළු ශරීරයම යහපත් වේ. එය සිතයි." මෙම නබි (සල්) වදනට ඉතා සුදුසු පැහැදිලි කිරීම වන්නේ,

(1) මිනිස් සිරුරේ සිතෙහි වැදගත්කමයි. (2) මානසික සෞඛ්‍යයේ වැදගත්කමයි.
(3) මානසික අරගලයෙහි වැදගත්කමයි. (4) චිත්ත පාරිශුද්ධභාවයෙහි වැදගත්කමයි.

**35.** පහත දක්වා ඇති සලාතයෙහි ප්‍රධාන ක්‍රියා පිළිබඳ සලකන්න.
A - සූරතුල් ෆාතිහා පරායනය කිරීම
B - දෙවන සජ්දා
C - නියියතය සමග තක්බීර් තහ්රීමා
D - තවර්රුක් හිඳුමෙහි සලාම් කීම
E - සජ්දා කර ඉඃතිරාෂ් හිඳුම
F - රුකූඋ කර ඉඃතිදාලයට පැමිණීම
උක්ත කාර්යයන් අනුපිළිවෙළට සකස් කිරීමෙන් ලැබෙන වරණය තෝරන්න.
(1) A B C D E F (2) B C D E F A (3) C A F E B D (4) D E F A B C

**36.** පහත ඒවා අතුරෙන්, ඉස්ලාමීය අකීදා පිළිබඳ වැරදි ප්‍රකාශය කුමක් ද?
(1) අල්-කුර්ආන් හා අල්-හදීස් ඉස්ලාමීය අකීදාවෙහි මූලයන් වේ.
(2) අකීදා පිළිබඳව විචාරවත්ව සිතීමට යොමු වූ විට මුස්ලිම්වරුන් අතර කණ්ඩායම් කිහිපයක් ඇති වුණි.
(3) සලෆුස් සාලිහීන්වරු හා සහබාවරු ගිය මග යන්නන්, "අහ්ලුස්සුන්නා වල් ජමාඅත්" ලෙස හඳුන්වනු ලැබේ.
(4) නබි තුමාණන්ගේ හා කලීෆාවරුන්ගේ කාල පරිච්ඡේදවල අකීදා ව වටහාගැනීමෙහි සංකූලතා පැවතුණි.

**37.** පහත වගුවෙහි **X** තීරුවෙන් ඉස්ලාමීය විශ්වාසය හා සම්බන්ධ වදන් කිහිපයක් ද, **Y** තීරුවෙහි ඒවායෙහි පැහැදිලි කිරීම් ද දක්වා ඇත.

| | X | Y |
|---|---|---|
| (1) | ඉහ්ලාස් | A - විශ්වය සහ එහි ඇති සියලුම දේ ඉබේම ඇති වූ ඒවා වේ. |
| (2) | ඉල්හාද් | B - මුහම්මද් (සල්) අවසාන නබිවරයා ය. |
| (3) | කාතමුන් නබි | C - අල්ලාහ්ගේ නාමයෙන් බොරු දිවුරුම් කිරීම. |
| (4) | ෂිර්කුල් අස්කර් | D - අල්ලාහ් වෙනුවෙන් පමණ නම් පිරිසිදු චේතනාවෙන් කටයුතු කිරීම. |

ඉහත **X** තීරුවේ අනුපිළිවෙළ අනුව **Y** තීරුව සකස්කිරීමෙන් ලැබෙන අනුපිළිවෙළ වරණ වන්නේ,
(1) A B C D ය. (2) B C D A ය. (3) D A B C ය. (4) D C B A ය.

**38.** තයම්මුම් පිළිබඳ වැරදි ප්‍රකාශය මින් කුමක් ද?
(1) වුලූඋහි අවයවවල වෙලුම් යොදා ඇති කෙනෙකු සලාතය සඳහා තයම්මුම් කර ගනියි.
(2) වෙලුම් යොදන ලද අවයව සේදීමෙන් වැළකී සිටියි.
(3) වෙලුම් නොයෙදූ, වුලූඋහි අනෙකුත් අවයව ජලයෙන් සෝදා ගනියි.
(4) වුලූඋහි අවයව හැර, අනෙකුත් වෙලුම් යෙදූ අවයවවල තයම්මුම් කර ගනියි.

**39.** පහත වදන් සලකන්න.

| | | |
|---|---|---|
| A - ජාහිලියියා | D - මුස්හබ් උස්මාන් | G - බෛඅතුල් අකබා |
| B - කුත්තාබුල් වහි | E - අසබියියා | H - තාබිඊ |
| C - කබීලා | F - සීරා | I - ෂෛයිහු |

ඉහත වගුවට අනුව ඉස්ලාමයට පෙර සමයේ පැවති අරාබි සමාජය සම්බන්ධ වදන් පමණක් අඩංගු කාණ්ඩය කුමක් ද?
(1) A B C D (2) A C E I (3) B G I H (4) B D F G

**40.** මුස්ලිම්වරයෙකුගේ ආහාර පුරුදු පිළිබඳ පහත ප්‍රකාශ අතුරෙන් වැරදි වන්නේ කුමක් ද?
(1) මුස්ලිම්වරයෙකු තම ශරීර සෞඛ්‍යය රැකගැනීමට සුදුසු ආහාර පුරුදු ඇතිකර ගත යුතු ය.
(2) ප්‍රමාණය ඉක්මවා අනුභව කිරීම ද ශරීරයට උචිත නොවන දෑ අනුභව කිරීම ද වලක්වා ගත යුතු ය.
(3) අනුමත ප්‍රබෝධක පාන වර්ග වැඩිපුර අනුභව කිරීම ශරීර සෞඛ්‍යයට හානිකර නොවේ.
(4) ප්‍රමාණය ඉක්මවා ආහාර අනුභව කර ස්ථූල ශරීරයකින් යුතු මුස්ලිම්වරයෙකු අල්ලාහ්ගේ පිළිකුලට ලක් වේ.

* *

[පස්වැනි පිටුව බලන්න.

**16 S I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)**
**General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)**

| | |
|---|---|
| **ඉස්ලාම්** | **I, II** |
| இஸ்லாம் | **I, II** |
| Islam | **I, II** |

**ඉස්ලාම් II**

* **පළමුවන** ප්‍රශ්නය හා තෝරාගත් තවත් ප්‍රශ්න **හතරක්** ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පළමුවන ප්‍රශ්නයට ලකුණු **20** ක් ද, තෝරා ගන්නා එක් ප්‍රශ්නයකට ලකුණු **10** බැගින් ද හිමි වේ.

**1.** කෙටි පිළිතුරු සපයන්න.

(i) 'අල්-මාඋල් මුස්තඃමල්' යනු කුමක් ද?

(ii) නබි (සල්) තුමාණන්ගේ කුඩා කල සිටම එතුමාණන් ආමන්ත්‍රණය කිරීමට ජනතාව යොදාගත් සුවිශේෂී නාම **දෙක** සඳහන් කරන්න.

(iii) වහී පහළ කරනු ලබන ආකාර **දෙකක්** සඳහන් කරන්න.

(iv) 'හදස්' නම් කිල්ල හි වර්ග **දෙක** පැහැදිලි කරන්න.

(v) කිනම් කලීෆාවරයාගේ කාලයේදී අල්-කුර්ආනය මුලින්ම ග්‍රන්ථාරූඪ කරන ලද්දේ ද?

(vi) මස්ජිදුල් අක්සා පිහිටි දේශය ඉස්ලාමීය ඉතිහාසයෙහි කෙසේ හැඳින්වෙන්නේ ද?

(vii) 'නිකාහ්' නම් පදය ඉස්ලාමීය යෙදුමෙන් කුමක් දක්වන්නේ ද?

(viii) ඉස්ලාමීය ආර්ථිකයේ මූලිකාංග **දෙක** මොනවා ද?

(ix) සකාත් ලැබීමට සුදුසු වන්නන් අතර 'ඝාරිමූන්' යනුවෙන් හැඳින්වෙන්නේ කවුරුන් දැයි පැහැදිලි කරන්න.

(x) කලීෆා උමර් බින් අබ්දුල් අසීස් (රහ්) තුමාගේ අණ පරිදි හදීස් එක්රැස් කළ පුද්ගලයා කවුරුන් ද?

**2.** (i) 'තස්කියතුන්නෆ්ස්' යන්නෙහි භාෂාමය අර්ථය කුමක් ද?

(ii) අල්-කුර්ආන් විස්තර කර ඇති සිතෙහි අවස්ථා **තුනක්** ලියා දක්වන්න.

(iii) ඉස්ලාමය පවසන යහගුණ **පහක්** සඳහන් කර ඒවා පැහැදිලි කරන්න.

**3.** (i) 'කියාස්' යනු කුමක් ද?

(ii) අර්කානුල් කියාස් වලින් **තුනක්** සඳහන් කර ඒවා පැහැදිලි කරන්න.

(iii) 'ඉජ්මාඋ නීති මූලාශයක් ලෙස ගත හැකිය' යන්න අල්-කුර්ආන්, සුන්නා පදනමින් පැහැදිලි කරන්න.

**4.** (i) 'අල් මුෂාරකා' යන්න නිර්වචනය කරන්න.

(ii) මුස්ලිම්වරයෙකු ඉපයීම් කටයුතු වල නිරතවීමේ දී වැලකී සිටිය යුතු කරුණු **තුනක්** කෙටියෙන් පැහැදිලි කරන්න.

(iii) ඉස්ලාම්හි ඉපයීමේ වැදගත්කම පැහැදිලි කරන්න.

**5.** (i) කුරෛෂ් කාෆිර්වරුන් ට විරුද්ධව කවි ගායනා කරන මෙන් නබි (සල්) තුමාණන් විසින් දිරිගන්වනු ලැබූ සහාබිවරුන් **දෙදෙනකු** නම් කරන්න.

(ii) නබි (සල්) තුමාණන් මුල් කාලයේ යොදාගත් සන්නිවේදන උපක්‍රම **තුනක්** දක්වන්න.

(iii) ඉස්ලාමය පවසන සන්නිවේදන මාධ්‍යවල ලක්ෂණ **පහක්** කෙටියෙන් විස්තර කරන්න.

[හයවැනි පිටුව බලන්න.

6. (i) නබි (සල්) තුමාණන්ගේ දූත පණිවිඩය රැගෙන ශ්‍රී ලංකාවට පැමිණි වහබ් ඉබ්නු අබී හෆ්සා (රළි) පිළිබඳ කරුණු සඳහන් කර ඇති පර්යේෂකයින් **දෙදෙනෙක්** නම් කරන්න.

(ii) ශ්‍රී ලංකා වෙරළබඩ ප්‍රදේශවල පදිංචි වූ බනූ හාෂිම්වරුන් පිළිබඳ ජේම්ස් ටෙනන්ට් සාමිවරයා දක්වා ඇති තොරතුරක් සවිස්තරව ලියා දක්වන්න.

(iii) ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනය කෙරෙහි මුල් කාලයේ මුස්ලිම්වරුන් දැක්වූ දායකත්වය පිළිබඳ කරුණු **පහක්** කෙටියෙන් පැහැදිලි කරන්න.

7. පහත ඒවායින් **දෙකකට** කෙටි සටහන් ලියන්න.

(i) අල්-කුර්ආනය ආශ්චර්යයකි

(ii) ටී.බී. ජායා

(iii) ඉස්ලාම් ලබා දී ඇති මිනිස් අයිතිවාසිකම්

(iv) පොළිය හා එහි විපාක

* * *

06055